කර්නේයි චුකෝව්ස්කි

# පටලැවිල්ල



කර්නේයි චුකෝව්ස්කි

# පටලැවිල්ල

චිත්‍ර

විලදිමීර් කනගියේවිච්

පරිවර්තනය

රන්ජන දේවමිත්‍ර සේනාසිංහ





‘ඤාව්’ කියා හඬ නැගුවෝ
බළල්ලු මේ ලෙස කීවෝ
‘‘ඤාව් කියන්නට හිත නැත
ඌරු හඬට ඇළිලා හිත’’

පාත්තයොත් හඬ නැගුවෝ
‘කුරු කුරු’ ගා දොස් නැගුවෝ
‘‘අපේ හඬේ ඇති වටිනකමක් වෙද?
මැඩියන්ගේ හඬ ගත්තොත් නරකද?’’



‘ඤදාවි-ඤදාවි’
ඌරෝ හඬ දුන්නා

බළල්ලු ඌරන් මෙන්
නද දෙන්නා



පාත්තයෝ ‘බක-බක’ම ගාන්නා





ගෙම්බො පාත්තයො වගේ හඬන්නා



කුකුළන් හරකුන් මෙන් මොර දුන්නා
‘උම්බෑ-උම්බෑ’ නාද නඟන්නා

කැලේ ඉඳන් වලහෙක් දුව ආවා
‘කුක්කු-කුක්’ හඬතලන්ට වූවා

අපෙ නුවණැති හා පැටියා
ගෝව ගහක් යට සිටියා
'ශ්‍රාවි' කීවේද නැතුවා
'බක' හඬ දුන්නෙද නැතුවා
හා හඬින්ම කෑගැසුවා
මෝඩ සතුන් හට දෙසුවා :

''චිරි චිරි ගානට උපන් එවුන් හට
මුරු මුරු බස කොහොමත් නොහොබී
උපන්න දා සිට මුරු මුරු ගානා
අය චිරි චිරි ගෑමත් නොහොබී''




''කළු කපුටා හට කිරි එළ දෙනකුව
කිරි දෙනු නොහැකිය කිසි කලෙකා
ගෙඹි පැටවුන් හට සියොත් කැලක් සේ
වලා සමඟ පියඹනු කෙලෙසා''

උඟුරු පොඩිත්තන් වලස් පොඩිත්තන්
සතුටින් මත් වී සිටි හින්දා
හාවා කී බස නොවැටුණේ සවන්
කවට සිනා කෙළි වැඩි හින්දා



මාළු විනෝදෙන් පාර පුරා ඔහෙ
ඇවිද යනව ජැන්ඩියට ඇඳන්
මැඩියන් රංචුද පියඹනවා නුබ
කිසි වෙනසක් නෑ සියොතුන් මෙන්

මීයෝ බළලකු අල්ලා ගත්තා
මී උගුලේ ලා ඌ හිර කෙරුවා

අරගෙන නරි රැළ ගිනි කූරු පෙට්ටියක්
නිලට බැබලුණ මුහුදෙ තැබුව ගිනි ජාලයක්

මහ මුහුද ඇවිලගෙන
පැතිර යන්වා ගින්න
තල්මසා හිස නගා
මොර දෙනව අහගන්න
''ගිනි නිවන හමුදාව
හනික මෙහි කැඳවන්න
අනේ අප කෙසේ හෝ
මරණයෙන් මුදවන්න''



වෙල්ලවැහුම් බනිස් ගෙඩිද
වේලපු හතු කොස් පොලොස්ද
පැය ගණනක් බටයෙන් විද
කිඹුලා දැරූ වෙර නොපෙනෙද?



පීප්පයට වතුර ගෙනැත්
කුකුළොද මේ ගින්න නිවත්

දිය ගෙන ආවෝ හැන්දක
ඉකිරි මාලුවෝ දෙදෙනෙක



ලී බේසමකට දිය ගෙන
ගෙම්බොද ආවා සැනෙකින

නිච්චට නිච්චට ගින්න නිවුණෙ නැත
දිය ගෙන ආවයි පලක් වුණේ නැත

සමනලෙක් තටු සලා
මුහුද උඩ පියඹලා
නිල් මුහුද සනසලා
ගින්න නිවලා ගියා



සත්තු සතුටින් නටා
සිනහ වී ගී ගයා
කනෙන් පොළසන් කළා
පා පොඩ්ඩ බිම ගටා

'ක්වැක්-ක්වැක්' තාරාවෝ
තාර හඬින් කෑගෑවෝ

බළලුන් රැළ පුරුදු හඬින්
'ඎාව්' කියා හඬ නැගුවෝ

කුරුලු පොඩිත්තෝ නැවතත්
'චිරි-චිරියෙන්' හඬ තැලුවෝ

අස්සයෝ ටික කලින් වගේ
'ඊ' ගා හෙසරව කෙරුවෝ

මැස්සන් පොදි 'ෂ්-ෂ්' ගා
දස අත ඉගිලිලා යනව



මැඩියන් රැළ 'බක-බක' ගා
බඩ අල්ලන් හිනහ වෙනව

පාත්තයෝ 'ක්‍රැවැක්-ක්‍රැවැක්'
පැද්දි පැද්දි ගමන් යනව

ඌරු පැටවු නිදිමත වී
ගොරව ගොරව නිදි කිරනව

මෙහැම දෙනා එකතුවෙලා
අපේ පුතා නිදිකරනව
'දොයි-දොයි අපෙ පුතු' කියනව
'බයි-බයි-බයි අපෙ පුතු' කියනව



කර්නේයි චුකෝව්ස්කි

# පටලැවිල්ල

චිත්‍ර
විලදිමීර් කනශියේවිච්

පරිවර්තනය


සකැසුම
මාලක ලලනජීව

ISBN 978-955-1979-65-2

ප්‍රකාශනය

කැනොල් පබ්ලිෂිං හවුස්

මුද්‍රණය
යස ඉසුරු ප්‍රින්ටර්ස්

ප්‍රථම මුද්‍රණය 2018

# කර්නේයි චුකෝව්ස්කි

# පටලැවිල්ල

පරිවර්තනය
**රන්ජන දේවමිත්‍ර සේනාසිංහ**







**Kanol Publishing House**
1196/4, Kottawa Road, Pannipitiya
Tel: 011 4336778, 071 3493447
kanolpublish@gmail.com

ISBN 978-955-1979-65-2



kanolbooks.blogspot.com

Rs. 150/-